# බෞද්ධ ධර්මාචාර්ය විභාගය 2012 (2013)

## (04) බෞද්ධ ඉතිහාසය හා සංස්කෘතිය

(කාලය :පැය 03 යි.)

**සැ.යු. : I කොටසේ ප්‍රශ්නවලට පිළිතුරු මෙම ප්‍රශ්න පත්‍රයේම ලියා කොටස් පිළිතුරු සමඟ අමුණා ශාලාධිපතිට භාරදෙන්න.**

01. i) (අ). ධර්මගුප්තික හා මහාසාංඝික යන දෙනිකායන්හි ආදි පුරුෂයා ලෙස සැලකෙන්නේ.

..........................................................................................

(ආ) මෙ ආදී පුරුෂයා ප්‍රථම සංගීතිය ප්‍රතික්ෂේප කළේ කවර හේතුවක් නිසද?

..........................................................................................

(ලකුණු 02 යි)

ii) (අ). දෙවන ධර් සංඝායනාව පැවැත්වීමට හේතු වූ මතවාද ඉදිරිපත් කළ භික්ෂු පිරිස හැඳින්වෙන්නේ කවර නමකින්ද?

..........................................................................................

..........................................................................................

(ආ) මේ භික්ෂු පිරිස ඉදිරිපත් කළ මතවාදය කුමක්ද?

(ලකුණු 02 යි)

iii) (අ). මහාදේව තෙරුන්ට ශාසන ඉතිහාසයේ වැදගත් තැනක් හිමිවෙන්නේ ඇයි?

..........................................................................................

(ආ). මේ තෙරුන් ඉදිරිපත් කළ නව මතය කුමක්ද?

..........................................................................................

(ලකුණු 02 යි)

iv) (අ). "පුද්ගල සංකල්පය" යනු කුමක්ද?

..........................................................................................

(ආ). මෙය කවරෙකුගේ සංකල්පයක්ද?

..........................................................................................

(ලකුණු 03 යි)

v) (අ). සර්වාස්තිතකවාදයේ ප්‍රමුඛයෙකු ලෙස සැලකෙන භික්ෂුවගේ නම කුමක්ද?

..........................................................................................

(ආ). භාරතයේ පැතිර යන ගිය ප්‍රධාන ප්‍රදේශ දෙක නම් කරන්න.

..........................................................................................

(ලකුණු 03 යි)

vi) (අ). බහුස්සුතික හා පඤ්ඤත්තිවාද යන නිකායද්වය බිඳී ගියේ කවර නිකායක්ද?

..........................................................................................

(ආ) මේ නිකායද්වය ආරම්භ කළේ කවුරුන් විසින්ද?

.............................................................................................................................

.............................................................................................................................

(ලකුණු 03 යි)

vii) (අ) "කථාවත්ථුප්පකරණය" මගින ඉදිරිපත් කෙරෙන මූලික ඉගැන්වීම කුමක්ද?

.............................................................................................................................

(ආ) මේ කෘතිය සම්පාදනය කරන ලද්දේ. කවර වකවානුවකද?

.............................................................................................................................

(ලකුණු 03 යි)

viii) (අ) භාරතයේ වලභී විශ්ව විද්‍යාලය පිහිටුවීම සඳහා අනුග්‍රහය දැක්වූ රජවරුන් හැඳින්වෙන්නේ කවර නමකින්ද?

.............................................................................................................................

(ආ) මේ විශ්ව විද්‍යාලයේ ආරම්භ කිරීමට පුරෝගාමී වූ වියත් යතිවරුන්ගේ නම් දක්වන්න.

.............................................................................................................................

(ලකුණු 03 යි)

ix) (අ) 11 වන සියවසේ බෞද්ධ දූත පිරිසක් ශ්‍රී ලංකාවට එවා බෞද්ධ ධර්ම ග්‍රන්ථ ගෙන්වා ගත් බුරුම (මියන්මාර) රජතුමාගේ නම කුමක්ද?

.............................................................................................................................

(ආ) මේ රජතුමා පසු කාලයේදී ශ්‍රී ලංකාවට එවූ භික්ෂු දෙනමගේ නම් දක්වන්න.

............................................................ ............................................................

(ලකුණු 03 යි)

x) (අ) "ප්‍රතිමා ඝර" යනු කුමක්ද?

.............................................................................................................................

.............................................................................................................................

(ආ) මේවා ශ්‍රී ලංකාවේ දක්නට ලැබෙන ස්ථාන දෙකක් නම් කරන්න.

.............................................................................................................................

.............................................................................................................................

(ලකුණු 03 යි)

# 2557 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2012(2013)

S 4

## (04) බෞද්ධ ඉතිහාසය හා සංස්කෘතිය

(ප්‍රශ්න **හතරකට** පමණක් පිළිතුරු සපයන්න.)

---

## II කොටස

**2.** (i) "බෝධිසත්ත්ව සංකල්පය" හඳුන්වා, ථෙරවාද හා මහායාන සම්ප්‍රදායයන්හි මේ සංකල්පය පිළිබඳව ඉදිරිපත් කෙරෙන අර්ථ නිරූපණ පහදන්න. (ලකුණු 06 යි)

(ii) මහායාන පිළිගැනීම අනුව බෝධිසත්ත්වවරයෙකු සතුව තිබිය යුතු මහාකරුණාව හා මහාප්‍රඥාව විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iii) "බෝධි චිත්තය" යනු කුමක්දැයි පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

**3.** (i) මහායාන ග්‍රන්ථවල දැක්වෙන "ධ්‍යානී බෝධිසත්ත්වවරුන්" නම් වශයෙන් දක්වා ඔවුන් ගැන හැඳින්වීමක් කරන්න. (ලකුණු 06 යි)

(ii) මහායාන බුදුදහමෙහි 'දසභූමි' යනු කවරේ දැයි හඳුන්වා එයින් **හයක්** විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iii) මහායාන බුදුදහමෙහි ඇතුළත් 'පාරමිතා' ගැන හැඳින්වීමක් කොට එයින් **හයක්** පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

**4.** (i) කණිෂ්ක රජතුමා බුදුදහම වැළඳගත් ආකාරය පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(ii) විභාෂා ග්‍රන්ථ යනු කවරේ දැයි හඳුන්වන්න. (ලකුණු 06 යි)

(iii) කණිෂ්ක රජතුමාගේ අනුග්‍රහයෙන් පැවැත් වූ ධර්ම සංගායනාව පිළිබඳ විමසීමක් කරන්න. (ලකුණු 06 යි)

**5.** (i) භාරතයේ නාලන්දා විශ්ව විද්‍යාලයෙහි ඉගැන්වූ ලෞකික අධ්‍යයන විෂය ධාරාව විස්තර කරන්න. (ලකුණු 06 යි)

(ii) එම විශ්ව විද්‍යාලයේ ග්‍රන්ථකරණයෙහි යෙදුණු ආචාර්යවරුන් **තිදෙනෙකු** හා ඔවුන් විසින් රචිත කෘති පිළිබඳ විමසීමක් කරන්න. (ලකුණු 06 යි)

(iii) එම විශ්ව විද්‍යාලයේ ඉගැන්වීමේදී යොදාගත් අධ්‍යාපන ක්‍රම පිළිබඳ විමර්ශනයක් කරන්න. (ලකුණු 06 යි)

**6.** (i) මිහිඳු මාහිමියන් ශ්‍රී ලංකාවට හඳුන්වා දුන්නේ පිරිසිදු ථෙරවාද බුදුදහම බව තහවුරු කිරීම සඳහා ඉදිරිපත් කළ හැකි සාධක කවරේ දැයි පිරික්සන්න. (ලකුණු 06 යි)

(ii) දේවානම් පියතිස්ස රාජ්‍ය සමයෙහි සිදු වූ මහින්දාගමනය භාරතය හා ශ්‍රී ලංකාව අතර කෙටි කාලයක් තුළ පැවති සබඳතාවල උසස් ප්‍රතිඵලයක් ලෙස හැඳින්වීමට තුඩු දුන් හේතු සාධක පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(iii) බෞද්ධ ධර්ම ප්‍රචාරය සඳහා මිහිඳු මාහිමියන් යොදා ගත් භාෂාවත් එවකට ශ්‍රී ලංකාවේ ව්‍යවහාර වූ භාෂාවත් අතර සමීප සම්බන්ධයක් පැවති බවට දැක්විය හැකි සාධක විමර්ශනය කරන්න. (ලකුණු 06 යි)

**7.** (i) ප්‍රාග් මහින්ද යුගයේදී ශ්‍රී ලංකාවේ මළවුන් ඇදහීම පැවති බව තහවුරු කළ හැකි සාධක පිළිබඳ සමාලෝචනයක් කරන්න. (ලකුණු 06 යි)

(ii) පැරණි ශ්‍රී ලංකාවේ බ්‍රාහ්මණයන් හා ඔවුන්ගේ ඇදහිලි විශ්වාස සඳහා වැදගත් තැනක් ලැබී තිබුණු බවට දැක්විය හැකි හේතු සාධක පිරික්සන්න. (ලකුණු 06 යි)

(iii) මහින්දාගමනයට පෙර විවිධ ශ්‍රමණ සම්ප්‍රදායයන්ට අයත් පැවිද්දන් ශ්‍රී ලංකාවේ විසූ බව සනාථ කළ හැකි සාධක ගැන විමසීමක් කරන්න. (ලකුණු 06 යි)

**8.** (i) ශ්‍රී ලංකාවේ ස්තූප නිර්මාණයේ ආරම්භය හඳුන්වා ඔබ කැමති එක් ස්තූපයක පවත්නා ඓතිහාසික හා ආගමික වැදගත්කම පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(ii) බෞද්ධ ස්තූපවල පෙනෙන ආකෘතික ලක්ෂණ හඳුන්වා ශ්‍රී ලංකාවේ පැරණි ස්තූපවල මේ ලක්ෂණ කොතෙක් දුරට දක්නට ලැබේ දැයි විමර්ශනය කරන්න. (ලකුණු 06 යි)

(iii) 'වැවයි දාගැබයි' යන සංකල්පය මූර්තිමත් කරමින් වැව් හා දාගැබ් තැනවීමෙහි යෙදුණු පැරණි ශ්‍රී ලාංකේය රජුන් **දෙදෙනෙකුගේ** සේවය ඇගයීමට ලක් කරන්න. (ලකුණු 06 යි)

***